ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Adv. Level) Examination, 2022 (2023)

ඉන්දීය ඉතිහාසය II (II කොටස)
இந்திய வரலாறு II (பகுதி II)
History of India II (Part II)

25 A | S | II

ඉන්දීය ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා

උපදෙස්:
* පිළිතුරු සැපයිය යුතු මුළු ප්‍රශ්න සංඛ්‍යාව **හතරකි.**
* II කොටස A, B හා C ලෙස කොටස් **තුනකින්** සමන්විත වේ.
* A **කොටසේ** ප්‍රශ්නය අනිවාර්ය වේ.
* B හා C කොටස්වලින් එක් කොටසකින් අවම වශයෙන් **එක** ප්‍රශ්නයක්වත් තෝරා ගෙන **තවත්** ප්‍රශ්න **තුනකට** පිළිතුරු සපයන්න.
(පළමුවන ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා ඉන්දියාවේ දළ සිතියමක් I කොටස සමඟ සපයා ඇත.)

## A කොටස

**1.** ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.**

(i) තානේශ්වර් (ii) ප්‍රයාග්
(iii) සත්ලෙජ් (iv) වාතාපි
(v) තුංගභද්‍රා (vi) කාවේරි පට්ටන
(vii) මක්‍රාන් (viii) තක්ෂිලා
(ix) වින්ධ්‍යා කඳුවැටිය (x) මධුරෙයි
(xi) මහානදී (xii) කාලිංග

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු 01 බැගිනි.)*

## B කොටස

**2.** "ඉන්දු නිම්න ශිෂ්ටාචාරය නාගරික ශිෂ්ටාචාරයකි".

(i) මෙම ශිෂ්ටාචාරයෙහි ප්‍රධාන නගර **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)
(ii) මෙම ශිෂ්ටාචාරයෙහි ප්‍රධාන වරාය **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)
(iii) මෙම ශිෂ්ටාචාරයෙහි නගර සැලසුම් පිළිබඳ කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 04යි.)
(iv) "ඉන්දු නිම්න ශිෂ්ටාචාරය යනු නාගරික ශිෂ්ටාචාරයකැ"යි යන ප්‍රකාශය සමඟ ඔබ එකඟ වන්නේ ද? හේතු දක්වන්න. (ලකුණු 08යි.)

**3.** පශ්චාත් වෛදික යුගයේ ආගමික හා දේශපාලන තත්ත්වයන්හි ප්‍රධාන ලක්ෂණ විස්තර කරන්න. (ලකුණු 16යි.)

**4.** චන්ද්‍රගුප්ත මෞර්යයගේ කාර්ය සාඵල්‍යය ප්‍රමාණ කරන්න. (ලකුණු 16යි.)

**5.** පහත දැක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ කෙටි සටහන් ලියන්න.

(i) වෛදික යුගයේ සමාජය
(ii) ක්‍රි.පූ. හයවන සියවසෙහි ගණ රාජ්‍යය
(iii) මෞර්ය සමයට පෙර මගධයේ දේශපාලන ඉතිහාසය
(iv) තුන්වන ධර්ම සංගායනාව සහ එහි ප්‍රතිඵල

(ලකුණු 08 × 2 = 16යි.)

[අටවැනි පිටුව බලන්න.

## C කොටස

6. මෞර්ය අධිරාජ්‍යය බිඳ වැටීමෙන් පසුව වයඹදිග ඉන්දියාවේ විදේශ ආධිපත්‍යය පිහිටුවීම පිළිබඳව විස්තර කරන්න. (ලකුණු 16යි.)

7. පහත දැක්වෙන තේමා යටතේ ගුප්ත සමයේ සංස්කෘතික අභිවර්ධනය පරීක්ෂා කරන්න.
   (i) භාෂාව සහ සාහිත්‍යය
   (ii) ආගම
   (iii) කලාව සහ ගෘහ නිර්මාණය (ලකුණු 16යි.)

8. පහත දැක්වෙන ශීර්ෂ යටතේ චෝළ ආධිපත්‍යයෙහි ව්‍යාප්තිය පැහැදිලි කරන්න.
   (i) ක්‍රි.ව. නවවන සියවසේදී දකුණු ඉන්දියාවේ චෝළ ආධිපත්‍යය ස්ථාපිත කළ ආරම්භක පාලකයා නම් කරන්න. (ලකුණු 01යි.)
   (ii) චෝළ ආධිපත්‍යය යටතේ පැවති මණ්ඩල **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)
   (iii) පළමුවන රාජරාජ සහ පළමුවන රාජේන්ද්‍ර රජවරුන්ගේ කාර්ය සාඵල්‍යය අගයන්න. (ලකුණු 09යි.)
   (iv) චෝළ අධිරාජ්‍යයේ පරිහානිය පිළිබඳ සංක්ෂිප්ත විස්තරයක් සපයන්න. (ලකුණු 04යි.)

9. පහත දැක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ කෙටි සටහන් ලියන්න.
   (i) කුෂාණ සමයේ බුද්ධදහම
   (ii) සාතවාහනයින් යටතේ දෙකානය
   (iii) සමුද්‍රගුප්තගේ යුද ප්‍රයාන
   *(iv)* *ත්‍රිකෝණ අරගලය* (ලකුණු 08 × 2 = 16යි.)

※ ※ ※